# කතෝලික ධර්මය

## 3 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

**அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்**
**அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்**
**தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்**
**பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்**

From the government, I received this as a gift
I'll read it, light up my knowledge and practise thrift
On my country's own behalf, I'll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරැදි දැනුමෙන්
රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස ඔබට හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.



**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ඉන්දීය සාගරයේ මුතු කැටය යැයි විරුදාවලිය ලත් රටක ඔබ ඉපදී සිටියි. ඔබේ රට කුඩා වුව ද එහි අගය අමිල ය. එවන් වටිනාකමක් සහිත රටක උපන් ඔබ සැබැවින් ම වාසනාවන්තයෙකි. ඔබ හොඳින් ඉගෙනුම ලැබ, ගුණ, නැණ, බෙලෙන් යුතුව වැඩී, සාර්ථක පුරවැසියකු ලෙස, මෙරට අගය තවතවත් ඉහළ නංවනු දැකීම අපේ ඒකායන අපේක්ෂාව ය. ඒ අපේක්ෂාව මුදුන්පත් කරලනු පිණිස අධ්‍යාපනය සඳහා සියලු පහසුකම් නොමිලේ සැපයීමට රජය කටයුතු කරයි. මෙම පොත ඔබට තිළිණ කෙරෙන්නේ ද එහි එක් පියවරක් වශයෙනි.

නව ප්‍රාථමික විෂයමාලාවට අනුව මේ වන විට 1, 2 සහ 3 ශ්‍රේණි සඳහා නව පෙළපොත් හඳුන්වා දී ඇත. මෙවර 4 වැනි ශ්‍රේණිය සඳහා අලුත් ම පෙළපොත් කට්ටලයක් හඳුන්වා දී ඇති අතර 2020 වර්ෂයේ දී 5 වැනි ශ්‍රේණියට අලුත් පොත් හඳුන්වා දෙනු ලැබීමෙන් ප්‍රාථමික විෂයමාලා සංශෝධනය නිමාවට පත්වේ.

මෙම පෙළපොත ඔබ අතට පත් කිරීමට වෙහෙසුණු ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජිකයන්ටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් ස්තුතිය පුද කර සිටිමි.

**ඩබ්ලිව්. ඩී. පද්මිණී නාලිකා**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2018.05.07

**නියාමනය හා අධීක්ෂණය**

ඩබ්ලිව්.ඩී.පද්මිණී නාලිකා මහත්මිය - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ.නිර්මලා පියසීලි මහත්මිය - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම මහත්මිය - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල් සමරකෝන් මෙණෙවිය - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)
අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ
අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා

**සංස්කාරක මණ්ඩලය**

පී.ඩී.එෆ්. පිලීෂියා අයිරින් මිය - ගුරු උපදේශිකා,
කලාප අධ්‍යාපන කාර්යාලය, වත්තල

ගරු මරිය රංගනී පැවිදි සොයුරිය - ගුරු වෘත්තිය,
රෝමානු කතෝලික බාලිකා විද්‍යාලය,
කොටහේන.

ගරු ඒ. ආර්. එල්. ශාන්ති කුමාර් පියතුමා - කථිකාචාර්ය,
ඇක්වයිනාස් විදුහල.

**ලේඛක මණ්ඩලය**

නිර්මලා රත්නායක මෙණෙවිය - ගුරු වෘත්තිය, ශාන්ත පීතර විදුහල,
කොළඹ 4.

සී. අයිරාංගනි රුද්‍රිගු මිය - ගුරු වෘත්තිය, ශාන්ත ලුසියා ම.වි.
කොටහේන, කොළඹ 15.

ටී.ජේ. පෝල් ඇන්ටනි මිය - විශ්‍රාමික විදුහල්පති

ඒ. කේ. එස්. ඒන්පල් මේරි මිය - ගුරු වෘත්තීය (විශ්‍රාමික)

**භාෂා සංස්කාරක**

රංජිත් ඉලුප්පිටිය මයා - නියෝජ්‍ය කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**චිත්‍ර සහ පිටකවරය**

තිරිස් ලියෝනි පෙරේරා මෙණෙවිය - චිත්‍ර ශිල්පී,
කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

එල්. ඒ සඳුනි නිලංකා පත්මසිරි මෙණෙවිය- පරිගණක අංශය,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංකය


| | | |
|---|---|---|
| 1. | නව වසරයි - දේව ආශීර්වාදයයි | 1 |
| 2. | මහෝත්තම දෙවි පියාණන් වහන්සේ මැවූ ලෝකය | 4 |
| 3. | දේව සමානකමයි - උතුම් මැවිල්ලයි | 6 |
| 4. | සමාව දෙන ආදර දෙවි පියාණෝ | 8 |
| 5. | කීකරුකමයි - සහයෝගයයි | 11 |
| 6. | මිතුදම් සුරකිමු | 13 |
| 7. | දයාව දක්වමු - කරුණාවන්ත වෙමු | 15 |
| 8. | දේව ආදරයයි - පිරිසිදුකමයි | 17 |
| 9. | දෙවිපියාණන් සමග කතා කරමු | 20 |
| 10. | පවුලේ යාච්ඤාව වන ජපමාලය | 22 |
| 11. | නව පාස්කුව | 24 |
| 12. | දිව්‍ය පූජාවට සහභාගි වෙමු | 27 |
| 13. | ස්වාමිවාක් ආරාධනාව | 30 |
| 14. | දේව මන්දිරයට ගිය ජේසු කුමරුන් | 33 |
| 15. | ජොර්දාන් ගඟේ අපූරු සිද්ධිය | 36 |
| 16. | පරීක්ෂාවන් ජයගත් ජේසුස් වහන්සේ | 39 |
| 17. | ජේසුස් වහන්සේගේ ආදරය | 41 |
| 18. | දිළිඳුන් අතර දිළින්දෙක් වූ අපේ පියතුමා | 43 |
| 19. | අදිරියාන් ජෝශප් පියතුමා | 46 |
| 20. | ආදි පියවරු | 48 |
| 21. | ජෝසෙප් | 51 |
| 22. | ශුද්ධ වූ තෙරේසා මව්තුමිය | 55 |
| 23. | ශ්‍රී ලංකාවේ අපෝස්තුළුවර ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා | 58 |
| 24. | ශුද්ධ වූ තාර්සිසියුස් තුමා | 62 |

# 1 නව වසරයි - දේව ආශීර්වාදයයි

උදය රැස්වීම අවසන් වී අලුත් පන්තියට පැමිණ සිටි සියලු ම සිසුන් බුලත් අත් අතැතිව සතුටින් සහ සිනහමුවින් බලා සිටින්නේ පන්තිභාර ගුරුතුමිය පැමිණෙන තුරු ය.










සියලුම සිසුන් පේළියට පැමිණ බුලත් අත් ගුරුතුමියට දෙමින් වැන්දා.


අලුතෙන් ලැබුණ පොත්වලට කවර දැම්මද?
එහෙමයි ගුරුතුමී


මේ බලන්න, ගිය අවුරුද්දේ හොඳට පාවිච්චි කළ ලස්සන පොතක්


අපිත් දෙවිපියා ලබාදුන් සියලු ම දේවලට ආදරෙයි. අපි ඒවා ආරක්ෂා කරගෙන හොඳින් ඉගෙන ගන්න පොරොන්දු වෙනවා.
ඔයවගේ වටිනා අදහස් ඇති දරුවන්ට දේව ආශීර්වාදය වැඩියෙන් ලැබෙනවා.

දෙවිපියාට තුති පුදමින් ගීතය ගායනා කරන්න.

අලුත් පන්තිය ලස්සනට තබා ගන්නම් දෙවිතුමනේ
අලුත් පොත් ද පිරිසිදුව තබා ගන්නම් දෙවිතුමනේ
ගුරුවරුන්ට ද ගරු කරමින් කීකරු වෙන්නම් දෙවිතුමනේ
සියල්ල ලබාදුන් ඔබහට තුති පුදන්නම් දෙවිතුමනේ

**ආදර දෙවිතුමෙනි, මට ඉගෙන ගැනීමට හොඳ පාසලක්, ලස්සන පන්තියක් අලුත් පොත් පත්, ගුරුවරුන්, මිතුරු මිතුරියන් ලබා දුන්නාට ස්තුතියි. ගුරුවරුන්ට කීකරු වෙමින්, ගරු කරමින්, ඔවුන් සතුටු කරන්නටත් හොඳ ගතිගුණවලින් පිරි ගුණ ගරුක, ඥානවන්ත චරිතවත් සිසුවකු ලෙස ජීවත් වීමටත් මට ආශීර්වාද කළ මැනව. ආමෙන්.**



පැවරුම්

1. තමන් කැමති ද්‍රව්‍ය භාවිත කරමින් සුබ පැතුම් පතක් නිර්මාණය කර පන්තිභාර ගුරුතුමියට පිරිනමන්න.

2. අභ්‍යාස පොතේ පෙති පහක මලක් අඳින්න. දෙවිපියාට ආදරය කරන දරුවකු තුළ තිබිය යුතු හොඳ ගුණාංග පහත වරහන් තුළින් තෝරා මල්පෙති මත ලියන්න.

   (දිනපතා පාසලට පැමිණීම / පොත්පත් ඉරා දැමීම / දෙමව්පියන්ට වැඳීම / යහළුවන්ට උදවු කිරීම / සණ්ඩු කිරීම / සතුටින් ගුරුවරුන්ට ආචාර කිරීම / පොත් ආරක්ෂා කර ගැනීම / පොත්වල කොළ ඉරීම)

# 2 මහෝත්තම දෙවි පියාණන් වහන්සේ මැවූ ලෝකය



ඉර හඳ තරු සැම සමඟින්
අහස මැව්ව පිය දෙවිඳේ
තුති දෙමු පසසමු සැම දින
රැකගෙන මේ සැම එකසේ

පොළොවේ ඇති ගස්වැල් හැම
මල් පලතුරු එළවළු හෙම
කොටි වලසුන් හාවුන් සැම
මැවූ දෙවිඳුට තුති දෙමි මම

ඇළේ දොළේ ගඟේ ගලන
මහ සයුරේ හෝ හඬ දෙන
දෙවිඳුන් දුන් දිය රැකගෙන
තුති දෙමු පසසමු බැතියෙන

අප ලද විස්මිත ලෝකය
රැකගෙන වැඩි දියුණු කරමු
යහපත් දරු දැරියන් ලෙස
පිය දෙවිඳුන් සතුටු කරමු

ආදර දේව තාත්තේ, මේ මුළු ලෝකයම මවා අපට තිළිණ කළ නිසා ඔබ වහන්සේට ස්තූතියි. මැවිල්ල ආරක්ෂා කරමින් වැඩි වර්ධනය කිරීමටත් නව නිර්මාණ බිහි කිරීමටත්, අපට පිහිට වුව මැනව. ආමෙන්.



පැවරුම

1. දෙවි පියාණන් වහන්සේ මැවූ දේවල් පහක් චිත්‍රයට නඟා ඒවා නම් කරන්න.

2. දෙවි පියාණන් වහන්සේ මැවූ ලෝකය රැක ගැනීමට පුංචි ඔබට කළ හැකි දේවල් දෙකක් ලියන්න.

3. දෙවි පියාණන් වහන්සේ මැවූ ලස්සන මැවිලි අතරින් ඔබ වඩාත් කැමති දෙය නිර්මාණය කරන්න. (පරිසරයෙන් සොයා ගත හැකි ස්වාභාවික දේවල් යොදා ගන්න.)

# 3 දේව සමානකමයි - උතුම් මැවිල්ලයි



ඉරපායා ඇති ලස්සන දවසක්. පාට පාට මල්වලින්, රසම රස පලතුරුවලින්, විවිධ සතුන්ගෙන් සහ කුරුල්ලන්ගෙන් පිරී ඇති ඒදන් උයන හරිම අලංකාරයි. එම උයන මැදින් ගලායන ගං ඉවුරේ ගසක් යට ඉඳගෙන ආදම් සහ ඒව සතුටින් කතා බහ කරමින් සිටියා.

**ආදම් :** දෙවිපියා අපට කොච්චර ආදරේද? මැවිලි අතරින් උතුම් ම මැවිල්ල වීමේ වාසනාව මට හිමිවුණා.

**ඒව :** ඇයි උතුම් ම මැවිල්ල කියන්නේ?

**ආදම් :** දෙවි පියාණන් වහන්සේ තම සමානකම අනුව දූවිල්ලෙන් අප මැව්වා. ඊට පස්සේ ඔවුන් වහන්සේගේ ජීවන හුස්ම අපට දුන්නා.
ඒ විතරක් නෙමේ ඔවුන් වහන්සේ මවපු සියල්ලට නම් තබන්නටත් නියම කළා.

**ඒව :** අර බලන්න, ඔයා නම් තැබූ සතුන් ඉන්න ලස්සන!

මේ වගේ ලස්සන ඒදන් උයනක ජීවත් වීමට අපට වරම් ලබාදුන් දෙවිපියාණෙනි, ඔබ වහන්සේට තුති පුදමු. එය ආරක්ෂා කර වර්ධනය කර ගැනීමට ආශීර්වාද කළ මැනව. ආමෙන්



පැවරුම

1. දේව සමානකමට මවා ඇති ඔබ දෙවිපියාට තුති පුදමින් යාච්ඤාවක් නිර්මාණය කරන්න.
2. දෙවිපියා මවන ලද සතුන් ඇඳ නම් කර පොත් පිංචක් නිර්මාණය කරන්න.
3. පහත ගීතය ගායනා කරන්න.

උතුම් ම මැවිල්ල වන්නෙ ආදි මවුපියන්
දෙවිපියාගෙ ආදරයයි ලැබුණ තෑග්ගයි
ආදරයට ප්‍රතිප්‍රේමය දක්වමු සතුටින්
ගී ගයමින් තුති පුදමින් පවසමු මෙලෙසින්

# 4 සමාව දෙන ආදර දෙවි පියාණෝ

මෙම විරිඳු පෙළ ගායනා කරන්න.

සියලුම යස ඉසුරු පිරුණු සුන්දර ඒදන් උයනේ
පිය දෙවිඳුට කීකරු වී අදරින් තුති පුදමින්නේ
ආදම් සහ ඒව තුටින් ඉන්නා කළ ඒ උයනේ
සර්පයකුගේ වෙස් ගනිමින් සාතන් උයනට එන්නේ

තහනම් ගසේ ගෙඩි කෑමට රුචියක් ඇති කරමින්නේ
දේව තාත්තට සමාන වන බව බොරු කියමින්නේ
ඒව ලවා ආදම්වත් වැරදි මගට ගනිමින්නේ
මිනිසා දෙවි පියා සමග භේද කළේ සාතන්නේ

සිරිත් පරිදි දේව තාත්තා ඔවුන් ව සොයමින්නේ
ආදම් සහ ඒව කියා කතා කළේ අදරින්නේ
අකීකරුකමේ පාපය කළ බව තේරුම් ගන්නේ
ආදම් සහ ඒව බියෙන් හැංගුණෙ ගස් අතරින්නේ

අකීකරු වූ මේ දෙදෙනට දඬුවම් පමුණුවමින්නේ
ආදම් හට මහන්සි වී වැඩ කරන්න කියමින්නේ
ඒවට දුක වේදනාව හිමි වන බව දෙසමින්නේ
සමාව දුන් දේව පියා නිති සගයේ දෙවිඳුන්නේ

ළමා අපෙන් පුංචි වැරදි වන බව අපි පිළිගනිමු
කමාව ගෙන වැරදි හදා ගන්නට අපි වෙර දරමු
අදරින් පිරි පිය දෙවිඳුට කීකරු වී සිත දිනමු
හොඳ දරුවන් ලෙස මෙලොවෙ දිවි ගෙවනට අපි සිතමු

ආදර දෙවි පියාණනි, අපෙන් වරදක් වූ විට සමාව ඉල්ලීමට අප පුරුදු කළ මැනව. අපට වරදක් වූ විට සමාව දීමටත් අපට පිහිට වුව මැනව. ආමෙන්.

පැවරුම

1. මෙම ගසේ ලියා ඇති දේවල් කියවා මහෝත්තම දෙවි පියාණන් වහන්සේගේ දරුවෙක් වීමට කළ යුතු දේවල් තෝරන්න. අභ්‍යාස පොතේ ලියන්න.




2. දෙවි පියාණන් වහන්සේ ආදම් සහ ඒවට දුන් උයනේ නම ලියන්න.

3. මෙම විරිදු ගායනය කතාන්දරයක් ලෙස ඉදිරිපත් කරන්න.

# 5 කීකරුකමයි - සහයෝගයයි

පාසලේ වාර්ෂික නත්තල් උත්සවයේ දී වැඩි ම තෑගි ප්‍රමාණයක් ලැබුණේ රුවිනිටයි. එයට හේතුව අවුරුද්ද මුල සිට ම ඇය පන්ති භාර කන්‍යා සොහොයුරිය විසින් ළමුන්ගේ හොඳ වැඩවලට දෙන ලද තරු වැඩි ප්‍රමාණයක් හිමිකර ගත් නිසා ය.

රුවිනි තම නිවසේ දී, ගමේ දී, පාසලේ දී සහ දහම් පාසලේ දී සහයෝගයෙන් ක්‍රියාකළ අවස්ථා කීපයක් පහත දක්වා ඇත. රූප දෙස බලා සාකච්ඡා කරන්න.



අපිත් රුවිනි වගේ කීකරුකමින් සහයෝගයෙන් වැඩ කරමු. දෙව්පියා සතුටු කරමු. තුති පුදමු.



පැවරුම

1. පහත සඳහන් ස්ථානවල දී රුවිනිට කළ හැකි වෙනත් යහපත් කටයුතු වගුවේ ලියන්න.

| නිවසේ දී | පාසලේ දී |
|---|---|
| 1 ..................................<br>2 ................................. | 1 .............................<br>2 ............................. |
| ගමේ දී | දහම් පාසලේ දී |
| 1 ..................................<br>2 .................................. | 1 ..............................<br>2 ............................. |

2. පාසලේ දී ගුරුතුමිය සමග සහයෝගයෙන් හා කීකරුකමින් යුක්ත ව කටයුතු කළ හැකි එක් අවස්ථාවක් චිත්‍රයට නගන්න. පාට කරන්න.

# 6

# මිතුදම් සුරකිමු



**අමිල :** අපේ පල්ලියේ මංගල්‍යය දවසේ පල්ලියට යන පාර හරිම ලස්සනට තිබුණා නේද?

**තාරක :** ඇත්තමයි, මටත් එදා හරිම සතුටුයි. පාර කපන ශ්‍රමදානේ දවසේ ගමේ හැමෝ ම එකමුතුවෙන් සහෝදර දයාවෙන් වැඩ කළා. ධර්මදාස මාමා, සරෝජා නැන්දා, තුවාන් අයියා, දේවි අක්කා වගේ ගමේ හැමෝම එදා පාර කපන්න වෙහෙස වුණා.

**අමිල :** ඇයි? අපේ පන්තියේ යාළුවො. පන්සිළු, චමුදිත, ක්‍රිශ්ණා, ෆාතිමා. ඒ හැමෝමත් අපට කොච්චර උදව් කළා ද?

**තාරක :** ඔව්, අපට කෑම බීමත් අරගෙන ආවා.

**අමිල :** අපේ ගම දිහා බලා හැමෝ ම එකමුතු ව සහෝදරත්වයෙන් ජීවත් වෙනවා නම් කොච්චර හොඳද?

**තාරක :** පල්ලියේ පියතුමා ඒ ගැන ප්‍රශංසා කළා. ස්තුති කළා. අපි ජාති, ආගම්, භේද අමතක කරලා පොදු වැඩවල දී එකමුතු වීම ගැන මංගල්‍ය දවසෙ පියතුමා පැවසුවේ හරි සතුටින්.

**අමිල :** ඇයි පියතුමා දේශනාවේ දී කිව්ව කතාවට අනුව ලාසරස් මරණින් නැගිට්ටුවෙත් ජේසුස් වහන්සේගේ හොඳ ම යාළුවා නිසා නේද?

**තාරක :** ඔව්, ජේසුස් වහන්සේ යහළුවන්ට මෙන්ම තමන්ට වැරදි කළ අයටත් ආදරය කළා. අපිත් ඒ වගේ හැමෝටම ආදරය කරමු.

**ආදර දෙවි පියාණෙනි, මේ පුංචි රටේ සිටින අප හැම දෙනා ව ම එකමුතු කළ මැනව. ජාති ආගම් භේද ඉවත දමා යහපත් දරුවන් ලෙස ජේසු සමිඳු ගිය මඟ යන්නට අපට පිහිට වුව මැනව ආමෙන්.**



පැවරුම

1. පහත සඳහන් වචන යොදා හිස්තැන් පුරවන්න.
(පියතුමා, ෆාතිමා, ජේසුස් වහන්සේ, ලාසරස්)

i. අමිලගේ හා තාරකගේ මුස්ලිම් යෙහෙළිය .......................... ය.

ii. අපේ ගමේ එකමුතුකම ගැන .............................. ප්‍රශංසා කළා.

iii. ජේසුස් වහන්සේ මළවුන්ගෙන් නැගිට්ටුවේ ............................ වය.

iv. ............................... හැමෝට ම ආදරය කළා.

# 7 දයාව දක්වමු - කරුණාවන්ත වෙමු

ආච්චි සීයා රෝගී වෙලා - රෝහල වෙත අරගෙන යමු
නංගි මල්ලි අසනීපෙන් - බෙහෙත් ටිකක් පොවලා බලමු
දයාව කරුණාව පතමු - සුවය පතා දෙවිඳු යදිමු

ඇවිදින්නට බැරි අම්මට - රෝද පුටුව ළං කර දෙමු
ඇස් නොපෙනෙන තාත්තාව - අතින් අල්ලා ඇවිද්දවමු
මේ සැමට ම සෑමදාම - කරුණාවෙන් උදවු කරමු

කන්න බොන්න නැති අයහට - කෑම ටිකක් කන්නට දෙමු
ගෙයක් දොරක් නැති අයහට - නවාතැනක් සොයාලා දෙමු
අසරණ වූ මේ සැම හට - දෙවිඳු පිහිට නිතර පතමු

මහලු මඩමෙ සිටින අයට - දුවෙක් පුතෙක් වෙලා බලමු
ආදරයක් නොලැබූ අයට - ආදරයෙන් නිති සලකමු
අනාථ වූ මේ සැමහට - කරුණාවෙන් කතා කරමු

දණ ගාමින් යන මල්ලිව - ළඟ ඉඳගෙන බලා ගනිමු
පියවර තබනා නංගිට - ඇවිදින්නට උදවු කරමු
දෙව් ආසිරි ලැබ ගන්නට - දෙවිඳු වෙතට යොමු කරවමු

පුස් පැටියා අහිංසකයි - බඩගින්නට කිරි ටික දෙමු
පිපාසයට වතුර ටිකක් - බලුපැටියට බොන්නට දෙමු
මේ සැම දෙන ලබා දුන්න - පිය දෙවිඳුට නිති තුති දෙමු



## පැවරුම්

1. රෝගීන් සහ විශේෂ අවශ්‍යතා ඇති අය වෙනුවෙන් කුඩා යාච්ඤාවක් ලියා පන්තියේ ප්‍රදර්ශනය කරන්න.
2. අසරණ සහ අනාථ අයට උදවු කළහැකි අවස්ථා සාකච්ඡා කරන්න. ඒවා ලියා දක්වන්න.
3. පහත සඳහන් චිත්‍ර මගින් ප්‍රකාශ වන කරුණාව සහ දයාව දක්වන ආදර්ශ පාඨයක් පින්තූරය ඉදිරියේ ලියා දක්වන්න.

1. මහලු අයට උදව් කරමු



2. ..................................................................





3. ..................................................................



4. ..................................................................



# 8 දේව ආදරයයි - පිරිසිදුකමයි

ඔබේ අත දිගු කරලා - මගේ අත මත තියලා
ජේසුනි මගේ දෑත - ඔබෙ සේවෙට ගන්න



අම්මේ, අපේ ගුරුතුමී අද අපට බොහොම වටිනා පාඩමක් කියලා දුන්නා.

අපේ පාසල, පන්ති කාමරය අපට ලැබිල තිබෙන්නේ දෙවි පියාණන් වහන්සේ අපට ගොඩක් ආදරේ නිසයි. ඉතිං, පාසල් ගොඩනැගිලි, පන්ති කාමර රැක ගැනීම, මිදුල අලංකාර ව තබා ගැනීම දකින දේව තාත්තා අපට හොඳින් ඉගෙන ගන්නත් පිහිට වෙනවා කිව්වා.



ඒ වගේ ම හැමදාම අපේ ගෙදර පිරිසිදු ව තබා ගන්නත් ඕනෑ. මිදුල අතු ගාලා, ලස්සන මල් වවල තිබුණා ම දේව තාත්තා අපේ ගෙදර සතුටින් පුරවනවා. පවුලේ හැමෝට ම එකමුතු ව ආදරයෙන් ජීවත් වෙන්නත් උදව් වෙනවා කිව්වා.

ඒ විතරක් නෙවෙයි. දේව තාත්තගේ නිවස වන අපේ දේව මන්දිරය පිරිසිදු ව තබා ගන්න ඕනෑ. මල් බඳුන්වලට අලුත් මල් දාන්න ඕනෑ. මිදුලෙ වැටී ඇති වියළි මල්, කොළ අහුලා පොහොර වලට දාන්න ඕනෑ. එවිට දේව තාත්තා අප එනතුරු නොඉවසිල්ලෙන් බලා සිට අප ව ආදරයෙන් පිළිගන්නවා කියලා ගුරුතුමී කිව්වා.





ආ! මට අමතක වුණා. අපප අවට තිබෙන රෝහල, බස් නැවතුම, ක්‍රීඩා පිට්ටනිය වැනි පොදු ස්ථාන ආරක්ෂා කරන්නත් පිරිසිදු ව තබා ගන්නත් කීවා. ආසන ඉරීම, තැන තැන කෙළ ගැසීම, ක්‍රීඩා උපකරණ කඩා බිඳ දැමීම හොඳ නැති බවත්, ගුරුතුමිය අපට ආදරයෙන් කියා දුන්නා.



පැවරුම

1. ඔබ ඉගෙනුම ලබන පාසලේ නම ලියන්න.
2. "අ" කොටසට ගැළපෙන අදහස "ආ" කොටසින් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
| --- | --- |
| අපේ නිවස | දේවස්ථානයයි. |
| දෙවි පියාගේ මන්දිරය | පිරිසිදු කරමු. |
| පාරේ කෙළ | පොදු තැනකි. |
| ක්‍රීඩා පිටිය | නොගසමු. |

3. දෙවි මැදුර අලංකාර කිරීමට ඔබට කළ හැකි දේවල් දෙකක් ලියා චිත්‍රයට නගන්න.

# 9 දෙවිපියාණන් සමග කතා කරමු




ඉහත චිත්‍ර දෙස බලා දෙවිපියාණන්ගෙන් පිහිට පතන අවස්ථා සහ තුති පුදන අවස්ථා හොඳින් හඳුනා ගන්න.

**ආදර දෙවි පියාණනි, මට අවශ්‍ය යහපත් දේ ඔබ වහන්සේ දෙන බව දනිමි. ඒ හැම දේට ම මම ඔබ වහන්සේට තුති පුදමි.**



පැවරුම

1. පින්තූර ඇසුරෙන් ඔබ වඩාත් සිත්ගත් අවස්ථා දෙකක් තෝරා යාච්ඤාවක් ලියා දක්වන්න. එය පුවරුවක අලවා නිදන කාමරයේ ප්‍රදර්ශනය කරන්න. එය දිනපතා කියවන්න.

2. ඔබ දෙවි පියාණන් වහන්සේගෙන් පිහිට පතන අවස්ථා දෙකක් නම් කරන්න.

3. දෙවි පියාණන් වහන්සේට තුති පුදන අවස්ථා දෙකක් චිත්‍රයට නගන්න.

# 10 පවුලේ යාච්ඤාව වන ජපමාලය




- විශ්වාස ලක්ෂණය
- කුරුසියේ ලකුණ

අද සවස අපේ ගෙදරට දේව මාතා ප්‍රතිමාව ගේනවා. උදේ සිට අම්මත් එක්ක මම දේව මාතා ප්‍රතිමාව සරසන්න උවමනා කරන දේවල් සූදනම් කළා. දේව මාතාවගේ හිස පළඳන්න ලස්සන ඔටුන්නක් සැදුවා. එතුමියට අලංකාර සළුවකුත් අම්මා මැසුවා. මල් කඩා දිග මල්මාලයකුත් සැදුවා. අක්කා ගෙදර අතුගා සූදනම් කළා. පවුලේ අය සමග එකමුතු වී සවස ජපමාලය උච්චාරණය කළා.

අපි ගෙදර දී දිනපතා ම හවසට පහන පත්තු කරලා පවුලේ අය එකතු වෙලා ජපමාලය උච්චාරණය කරනවා. අයියා බයිබලය අරගෙන එදාට තියෙන දේව වචනය හැමෝට ම ඇහෙන්න කියවනවා. ජපමාල අභිරහස් ගැන තාත්තා අපට පැහැදිලි කර දෙනවා. ජපමාලය කියා අවසන් වූ විට ගීතිකාවකුත් කියනවා. එයින් හරිම සතුටක් ලැබෙනවා.

## ජපමාල අභිරහස්

සොම්නස් අභිරහස්

දොම්නස් අභිරහස්



ආලෝකයේ අභිරහස්

ජයග්‍රාහී අභිරහස්

නිවසින් බැහැර වන සෑම අවස්ථාවක දී ම ජපමාලය රැගෙන යාමට පුරුදු වෙමු.



**පැවරුම**

1. ජපමාලය උච්චාරණය කිරීමේ දී භාවිත කරන නිල යාච්ඤා තුනක් නම් කරන්න.
2. දිනපතා ජපමාලය උච්චාරණය කිරීමෙන් අප තුළ ඇති කර ගත හැකි යහපත් ගුණාංග දෙකක් ලියන්න.

අමිලා : සිස්ටර්, චතාරික කාලය කියන්නේ මොකක් ද?

සිස්ටර් : චතාරික කාලය කියන්නේ ජේසුස් ස්වාමීන් වහන්සේගේ දුක් විඳීම, මරණය සහ උත්ථානය සිහි කරන දින 40ක කාලයයි.

ඇන්ටන් : සිස්ටර්, චතාරික කාලය පටන් ගන්නේ කවදා ද?

සිස්ටර් : අළු බදාදා තමයි චතාරික කාලය ආරම්භ වෙන්නේ.

ඇන්ටන් : සිස්ටර්, චතාරික කාලයේ අපි එක්වරු ශීලය රකිනවා, චතාරික වන්දනා ගමන් යනවා. නරක වචන කියන්නේ නැහැ. දඟර කරන්නේ නැහැ. බොරු කියන්නේ නැහැ. පාද නමස්කාර කරනවා.

සමාරා : අපේ අම්මා කියල දුන්නා චතාරික කාලයේ සිකුරාදා පාද නමස්කාරයේ යන විට ඉතා ගෞරවයෙන්, භක්තියෙන් එයට සහභාගී වෙන්න ඕනෑ කියලා.

සිස්ටර් : ඔව්, දුවේ පුතේ, ජේසුස් වහන්සේ මහ බර කුරුසයක් කර තබාගෙන වැටී වැටී ඒ ගමන ගියේ අපි හැමෝට ම ගොඩක් ආදරේ නිසයි.

ළමයි : සිස්ටර්, අපි ජේසුස් වහන්සේට ගොඩක් ආදරෙයි. ඉතිං අපටත් පාද නමස්කාරය කරන්න කියල දෙන්න.

> ගීතිකාව
>
> දේව කන්‍යා නිමල මවුනි, ඔබගේ කුමරා දරුව
> වනවල් මා හදයේ සන් කළ මැනව.

පාද නමස්කාරයේ යන විට පහත සඳහන් යැදුම් කියවන්න.

## ස්ථානයක් ආරම්භ කරන විට

- ක්‍රිස්තුනි, ඔබට නමස්කාර කොට ස්තුති ප්‍රශංසා කරමු.
- මක්නිසාදයත් ඔබ වහන්සේගේ ශ්‍රී කුරුසයෙන් ඔබ වහන්සේ ලෝකය ගලවා ගත් සේක.

## ස්ථානයක් අවසාන කරන විට

- ස්වාමිනි, පාපි වූ අපට කරුණාකර වදාළ මැනව. අපට කරුණාකර වදාළ මැනව.
- මළා වූ ක්‍රිස්තියානින්ගේ ආත්මවල් දේව දයාබර කමින් සමාදානයේ සැතපෙන ලද්දේවා! ආමෙන්.



පැවරුම

1. චතාරික කාලයේ දී ඔබට කළ හැකි මර්දන ක්‍රියා දෙකක් ලියන්න. එය ක්‍රියාවට නංවන්න.
2. චතාරික කාලය තුළ ඔබට විශේෂාකාරයෙන් සහභාගී විය හැකි භක්ති අභ්‍යාස දෙකක් නම් කරන්න.
3. වචන ගළපා වැකි සාදා ලියන්න.

i. කටු ඔටුන්නක් / වින්දා / ජේසුස් වහන්සේ / කස පහර / දරා

ii. උකුත් වුණේ / දිනයි / ජේසුස් වහන්සේ / මහ සිකුරාදා

iii. ගල්ලෙන / මරිය මග්දලේනා / ගියාය / ළඟට

iv. උත්ථාන / පාස්කු / වුණේ / ජේසුස් වහන්සේ / ඉරුදිනයි

# 12 දිව්‍ය පූජාවට සහභාගි වෙමු



ගුරුතුමිය : දුවලා පුතාලා ඉරිදා පල්ලි ගියා නේද?

ළමයි : ඔව් ටීචර් අපි දහම් පාසලට යන්න ප්‍රථම හැමෝ ම දිව්‍ය පූජාවට සහභාගිවීම සඳහා පල්ලියට ගියා.

ගුරුතුමිය : බොහොම හොඳයි. දැන් කාට ද කියන්න පුළුවන් ඔයාලා දිව්‍ය පූජාවට සහභාගී වුණේ කොහොමද කියලා.

ඇන්ටනි : අපි සියලු දෙනා පල්ලියට ඇතුළු වී ගුරුතුමිය කියාදුන් පරිදි දොහොත් මුදුන් දී දණනමස්කාර කර වැන්දා. පූජාව පටන් ගන්න පෙර කියන ජපමාලයට අපිත් සහභාගි වුණා. පූජාව පටන් ගැනීමේ සීනුව නාද වනවිට

අසුනින් නැගිට දෑත් වැඳගෙන ආරම්භක ගීතිකාවට සහභාගි වුණා.
පූජාව පටන් ගත්පසු පියතුමා සමග අපිත් පිතා පුත්‍රයා සලකුණු කළා. පව් සිහිකර සමාව ඉල්ලුවා.

**ඇන් :** පියතුමා කියූ දේව වචනයට අපි හොඳින් ඇහුම්කන් දුන්නා. සුපුවත පැවසුවේ අලුත් දෙයක්. එනම් මිතුරන් කැඳවන්නට පෙර අසරණයින්, අනාථයින් කැඳවන්න කියලයි.

**ගුරුතුමිය :** දුවලා, පුතාල හොඳින් දේව වචනයට සවන් දීලා තියෙනවා. ඉතිං ඔයාලා පඬුරු පෙරහැරට කොහොම ද සහභාගි වුණේ?

**දෙව්මි :** අපි භක්තියෙන් පඬුරු පෙරහැරට සහභාගි වුණා. ජේසුස් වහන්සේ ඉගැන්වූ යාච්ඤාව කියා පියතුමා සමග අපත් සතුටින් අන් අයට සාමය පැතුවා.

පියතුමා පූපය ඔසවන විට, කුඩා කුටියක් තුළ සිරගත වී අපි එනතුරු බලා සිටින ජේසුස් වහන්සේ දිහා බලා හිස නමා යාච්ඤා කළා. පූජාව අවසන් වී පියතුමා "යන්න සාමය ගෙන යන්න" කියා පැවසූ වදන් සිතට ගත්තා. අවසාන ආශීර්වාදය ලබාගත් පසු දේවස්ථානයෙන් පිටතට පැමිණියා.

**සැම ඉරු දිනත් නත්තල හා දේව මාතා නිර්දෝෂ පිළිසිඳීමේ මංගල්‍යය වැනි ණය මංගල්‍ය දිනවලත් දිව්‍ය පූජාවට සහභාගි වී දෙවිඳුන් සතුටු කරමු.**



පැවරුම

1. දිව්‍ය පූජාව තුළ දෙවිපියාණන් වහන්සේ සතුටු කළහැකි ක්‍රියා කහපාට ඉනිමගේ ද අසතුටු ක්‍රියා රෝසපාට ඉනිමගේ ද සඳහන් කරන්න. (අභ්‍යාස පොතේ ඇඳ, ලියන්න.)

- පූජාවට ප්‍රමාද වී පැමිණීම
- සාමය පැතීම
- විනීත ඇඳුමෙන් පැමිණීම
- මිතුරන් සමග කතා කිරීම
- පඬුරු පිදීම
- ගීතිකා පොත ඉරීම නැමීම
- බංකුවල කුරුටු ගෑම
- දේව වචනයට සවන් දීම
- පූජාව අවසන් වෙනතුරු සිටීම

2. ණය මංගල්ල දින දෙකක් නම් කරන්න.

# 13 ස්වාමිවාක් ආරාධනාව

සුරලොවේ සුරපියේ අසනු අප යැදුම් අනේ //



එක් දවසක් ජේසුස් වහන්සේ යාච්ඤා කරමින් සිටියා. එය නිම වූ පසු ඔවුන් වහන්සේගේ ගෝලයන්ගෙන් කෙනෙක් කතා කරමින් යාච්ඤා කරන ආකාරය තමන්ටත් කියා දෙන ලෙස ඉල්ලුවා. ඒ අවස්ථාවේ ජේසුස් වහන්සේ කතා කරමින් මහෝත්තම දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කරන ආකාරය කියා දුන්නේ මෙලෙසයි.

**ස්වාමිවාක් ආරාධනාව**
ස්වර්ගයෙහි වැඩ සිටින අපගේ පියාණෙනි, ඔබ වහන්සේගේ ශ්‍රී නාමයට ප්‍රශංසා වේවා! ඔබ වහන්සේගේ රාජ්‍යය පැමිණේවා. ඔබ වහන්සේගේ කැමත්ත ස්වර්ගයෙහි මෙන් මෙලොවෙහි ද ඉටු වේවා. අපගේ එදිනෙදා භෝජනය අද අපට දනය කළ මැනව. අපට වරද කරන අයගේ වැරදි අප කමා කරන්නාක් මෙන් අපගේ වැරදි ද කමා කළ මැනව. පාප අවස්ථාවන්ට අසුවීමට අපට ඉඩ නොදී අයහපතින් අප මුදා ගත මැනව. ආමෙන්.

දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කරන විට ගෞරවයෙන් භක්තියෙන් හා අවබෝධයෙන් අත් ඔසවා මේ යාච්ඤාව උච්චාරණය කිරීමට අපි පුරුදු වෙමු.

ත්‍රිත්ව ස්තෝත්‍රය කියන්නේ ශුද්ධ වූ ත්‍රිත්වයට නමස්කාර කරන යැදුමකි. පියාණන් වහන්සේ, පුත්‍රයාණන් වහන්සේ හා ශුද්ධාත්මයාණන් වහන්සේ යන තුන් දෙනා වහන්සේලා තමයි ශුද්ධ වූ ත්‍රිත්වය. අපි යාච්ඤා කරන විට ගෞරවයෙන් භක්තියෙන් යාච්ඤා කරමු.

පිතා, පුත්‍රයා, ස්ප්‍රීතු සාන්තු නම් ත්‍රිත්ව ඒක දේවෝත්තමයාණන් වහන්සේට ස්තෝත්‍ර වේවා.
ආදි වූවාක් මෙන් දැනුත් නිතිපතාත් අනන්ත කාලයෙහිත් වේවා! ආමෙන්.

භාවනාව :

දොහොත් මුදුන් දී ශුද්ධ වූ ත්‍රිත්වයට නමස්කාර කරමින් භක්තියෙන් ගායනා කරමු.

පරමෝත්තම වූ පියාණන් වහන්සේට මම නමස්කාර කරමි.
නමස්කාර වේවා//
ලෝකාග්‍ර වූ පුත්‍රයාණන් වහන්සේට මම නමස්කාර කරමි.
නමස්කාර වේවා//
පරිශුද්ධ වූ ආත්මයාණන් වහන්සේට මම නමස්කාර කරමි.
නමස්කාර වේවා//



පැවරුම

1. ස්වාමිවාක් ආරාධනාව හා ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුම අභ්‍යාස පොතේ ලියන්න. නිවැරදි ව උච්චාරණය කරමින් දිනපතා යාච්ඤා කරන්න.
2. වරහන තුළ ඇති වචනවලින් නිවැරදි වචනය තෝරා හිස්තැන් පුරවන්න.
(ගෝලයන්ට, ස්වාමිවාක් ආරාධනාව, ශුද්ධ වූ ත්‍රිත්වයට)

i. ජේසුස් වහන්සේ ඉගැන් වූ යාච්ඤාව .......................... ......... යි.
ii. .................................. මෙම යාච්ඤාව ඉගැන්වූයේ ජේසුස් වහන්සේම යි.
iii. .................................... ගෞරව දක්වන යැදුම ත්‍රිත්ව ස්තෝත්‍ර යැදුමයි.

3. ශුද්ධ වූ ත්‍රිත්වයේ තුන්දෙනා වහන්සේලා නම් කරන්න.

# 14 දේව මන්දිරයට ගිය ජේසු කුමරුන්



පුතා : මේ බලන්න අම්මේ මට ලස්සන පින්තූරයක් හම්බ වුණා. ජේසු කුමරු පොඩිකාලේ හරිම ලස්සනයි.

අම්මා : කෝ බලන්න. ආ ..... ජේසු කුමරු දේව මාලිගයට ගිය පින්තූරයනේ. ඔය පින්තූරයෙන් කියවෙන කතාව හරිම ලස්සනයි.

පුතා : මට ඒ කතාව කියලා දෙන්න.

අම්මා : ජේසු කුමරුගේ දෙමවුපියන් අවුරුදු පතා ම පාස්කු මංගල්‍යය සඳහා ජෙරුසලමට ගියා. ජේසු කුමරුට වයස අවුරුදු 12ක් වූ විට එතුමා ද දෙමවුපියන් සමග

ඒ මංගල්‍යයට ගියා. එයට සහභාගි වී ටික දවසක් එහි නතර වෙලා නැවත ආවා. නමුත් ජේසු කුමරු ජෙරුසලමේ නතර වුණා. ඒ බව තමන් වහන්සේගේ දෙමවුපියන් දැනගෙන හිටියේ නැහැ. ජේසු කුමරු නෑදෑ මිතුරන් අතර සිටිනවා ඇති කියලයි හිතාගෙන ඉඳලා තියෙන්නේ. දවසක් ගතවුණාට පස්සේ තමයි ජේසු සමිඳුන් නැති බව දැනගත්තේ. පසුව නැවතත් ජෙරුසලමට පැමිණ සොයන්නට පටන් ගත්තා. දවස් තුනකට පසුව තමයි ජේසු කුමරු හමුවුණේ.

**පුතා :** ජේසු කුමරු කොහෙද හිටියේ?

**අම්මා :** දේව මාලිගාවේ පඬිවරුන් මැද වැඩහිඳිමින් ඔවුන් කියන දේට සවන් දෙමින් ඔවුන්ගෙන් ප්‍රශ්න අසමින් සිටින බව දක්කා. ජේසු කුමරුගේ බුද්ධිය ගැනත් පිළිතුරු දෙන ආකාරය ගැනත් පුදුම වුණා.

**පුතා :** ජේසු කුමරුගේ දෙමවුපියන් ඇහුවේ නැද්ද එහෙම නතර වුණේ ඇයි කියලා?

**අම්මා :** ඇහුවා. පුදුම හිතෙන උත්තරයක් දීලා තියෙන්නේ. "ඔබ මාව සෙව්වේ ඇයි? මම පියාණන්ගේ මැදුරේ සිටිය යුතු බව දන්නේ නැද්ද?"

**පුතා :** ජේසු සමිඳුන් ආපසු දෙමවුපියන් සමග ගියේ නැද්ද?

**අම්මා :** ඇයි නැත්තේ. ජේසු සමිඳුන් ඉතා බැහැපත් ව මරිය තුමිය සහ ජුසේ තුමා සමග කීකරු ව නාසරෙත් නුවරට ගියා. එහි දී ජුසේ තුමාගේ වඩුවැඩවලට ද මරිය තුමියගේ නිවසේ වැඩවලට ද උදවු වුණා. දෙමවුපියන් සමග එකතු වී දෙවි පියාණන්ට යාච්ඤා කරමින්, දෙන ඔවදන් පිළිපදිමින් ජීවත් වුණා.





### පැවරුම

1. ඔබත් ඔබේ දෙමවුපියන් සමග ගිය වන්දනා ගමනක් නම් කරන්න.
2. එම වන්දනා ගමනේ දී දෙමවුපියන්ට කීකරු වී කළ යහපත් ක්‍රියා දෙකක් නම් කරන්න.
3. දේව දරුවකු ලෙස ජීවත් වීම සඳහා අවශ්‍ය යහපත් ගුණාංග ඉල්ලා දෙවි පියාණන් වහන්සේට යාච්ඤාවක් ලියන්න. එය පන්තියේ ප්‍රදර්ශනය කරන්න.

# 15 ජොර්දාන් ගඟේ අපූරු සිද්ධිය



චරිත : ජේසුස් වහන්සේ
ශුද්ධාත්මයාණන් වහන්සේ
ජොහාන් තුමා
සෙනඟ

(ජොහාන් තුමා, ගං ඉවුරේ රැස් ව සිටින මහ විශාල සෙනඟට දේශනා කරමින් සිටියි)

**ජොහාන් තුමා :** ඔබලා වැරදි කරන බව පිළිගන්න. ඒවාට මනස්ථාපනය වන්න. පියාණන් වහන්සේ ඔබට සමාව දෙන්නට ආදරයෙන් බලා සිටිනවා.

සෙනඟ : අපේ වැරදිවලට සමාව ලබා ගන්න අපි කැමතියි. ඒ සඳහා අප කුමක් කළ යුතු ද?

ජොහාන් තුමා : ඔබලා දෙවි පියාණන් වහන්සේගෙන් සමාව ලැබෙන බව විශ්වාස කරන්න. මේ ගඟේ බැස බෞතීස්ම ස්නාපනය ලබා ගන්න. පාපවලින් පිරිසිදු වන්න.
(මේ අතරේ ජේසුස් වහන්සේ පැමිණේ)

ජේසුස් වහන්සේ : ජොහාන්, මාවත් බෞතීස්ම ස්නාපනය කරන්න.

ජොහාන් තුමා : (පුදුම වී) ඔබ වහන්සේ මට වඩා බොහොම උතුම් කෙනෙක්. මා ඔබෙන් බෞතීස්මය ලැබිය යුතු නොවේද?

ජේසුස් වහන්සේ : ජොහාන්, ඔබ මට බෞතීස්ම ස්නාපනය ලබා දිය යුතුයි. එයයි දේව කැමැත්ත.

ජොහාන් තුමා : ඔබ වහන්සේගේ ඉල්ලීම නිසා මම බෞතීස්ම ස්නාපනය ලබා දෙන්නම්. එන්න ස්වාමීනි!

බෞතීස්ම ස්නාපනය දුන් මොහොතේ පුදුම දෙයක් සිදු වුණි. ස්වර්ග රාජ්‍යය විවෘත වී ආත්මයාණන් වහන්සේ පරවියකු ලෙස ජේසුස් වහන්සේ වෙත වැඩම කළ සේක. එවිට ම "ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය. මම ඔබ කෙරේ ඉතා ප්‍රසන්න වී සිටිමි" යි. අහසින් හඬක් ඇසුණේ ය. බෞතීස්මයෙන් පසු ජේසුස් වහන්සේ තනිව ම යාච්ඤා කිරීමට පාළුකරයට ගිය සේක.

ආදර දෙවි පියාණනි, ප්‍රසාද ස්නාපනය මගින් ජන්ම පාපයෙන් නිදොස් වූ අප ලැබූ දේව දරුකම ආරක්ෂා කර ගනිමින් ජීවත් වීමට අපට පිහිට වුව මැනව. අපට වැරදි කරන්නට සිතෙන අවස්ථාවල දී එයින් වැළකී සිටීමට අපට උදව් වුව මැනව. ආමෙන්.



පැවරුම්

1. මේ වාක්‍ය හරි නම් (✓) ලකුණ ද වැරදි නම් (X) ලකුණ ද යොදන්න.

   i. ජොහාන් තුමා ජොර්දාන් ගං ඉවුරේ දී සෙනඟට දේශනා කළා. (     )

   ii. දේව තාත්තා අපේ වැරදිවලට සමාව නොදෙයි. (     )

   iii. ජේසුස් වහන්සේ බෞතීස්ම ස්නාපනය ලබද්දී පුදුම දෙයක් වුණා. (     )

2. ඔබ ක්‍රිස්තියානි කළ අවස්ථාවේ පින්තූරයක් අඳින්න. ඊට යටින් යාච්ඤාවක් ලියන්න.

# 16 පරීක්ෂාවන් ජයගත් ජේසුස් වහන්සේ



මිනිසා කෑමෙන්
පමණක් ජීවත්
නොවේ.



නුඹේ දෙවි වන ස්වාමීන් වහන්සේට
නමස්කාර කරන්න. උන්වහන්සේට
පමණක් සේවය කරන්න.



නුඹේ දෙවි වන ස්වාමීන් වහන්සේ පරීක්ෂා
නොකරන්න.

බෞතීස්ම ස්නාපනය ලබාගත් ජේසු සමිඳුන් යක්ෂයා විසින් පරීක්ෂා කරනු ලැබීම සහ එම පරීක්ෂා ජය ගත් අන්දම චිත්‍ර දෙස බලා සාකච්ඡා කරන්න.



පරීක්ෂා ජයගත් ජේසු සමිඳුන් ගලීල මුහුද අවටින් ශ්‍රාවකයන් දෙළොස් දෙනෙක් තෝරා ගත් සේක. අන් අයට සුබාරංචිය කියා දෙන්නටත් තමන් වහන්සේගේ නාමයෙන් රෝගීන් සුවපත් කරන්නටත් ගෝලයන්ට බලය දුන් සේක.

ජේසු සමිඳුන් කුඩා දරුවන්ට මහත් සේ ආදරය කළ සේක. ඔවුන් වහන්සේගේ අත් කුඩා දරුවන් පිට තබා ආශීර්වාද කළ සේක. "ළදරුවන්ට මාවෙත එන්න ඉඩ හරින්න. දෙවියන් වහන්සේගේ රාජ්‍යය එවැනි අයගේ ය". කියා උන්වහන්සේ පැවසූ සේක.

අපි ජේසුස් වහන්සේට ආදරය කරමු.



පැවරුම්

1. (අ) කොටුවේ හි වචනවලට ගැලපෙන වචන (ආ) කොටුවෙන් තෝරා යා කරන්න.

| (අ) | (ආ) |
|---|---|
| • ජේසුස් වහන්සේ තෝරාගත් පිරිස | • දේව වචනය බෙදා දීම |
| • මුලින් ම තෝරා ගත්තේ | • ආදරයෙන් ඉන්න ඕනෑ |
| • මේ අය කළ කාර්යය | • හොඳ යාළුවෝ |
| • යහළුවන් සමග | • දොළසකි |
| • දුකේ දී සැපේ දී ඉන්න අය | • සීමොන් පේදුරු |

2. ජේසුස් වහන්සේ ජයගත් පරීක්ෂාවලින් ඔබ කැමති අවස්ථාවක් චිත්‍රයට නගන්න.

# 17 ජේසුස් වහන්සේගේ ආදරය



ජේසුස් වහන්සේ රෝගීන්ට සුවය දුන් සේක. පව් කළ අයට සමාව දුන්සේක. චිත්‍රය දෙස බලා හඳුනා ගන්න.

අබාධිත ළමා නිවාසයක් බැලීමට ගිය පන්තියේ අප සැමට දක්නට ලැබුණේ එහි සේවය කරන අය තුළ තිබූ කරුණාව සහ දයාවයි. ඇවිදින්න බැරි අය අතින් අල්ලාගෙන ඉතාමත් ම ආදරයෙන්. සියලු ම කටයුතු සතුටින් ඉටු කරන සැටි බලා සිටිය මට ඇස් දෙකට කඳුළු ආවා.

- ගං වතුර උවදුරින් නිවාස අහිමි වී සිටින අයට
- රෝහල්වල සිටින විවිධ රෝගීන්ට
- ළමා සහ වැඩිහිටි නිවාසවල සිටින අයට

සත්කාර කරන සැම දෙනා හරි ම කරුණාවන්තයි.

ජේසුස් වහන්සේගේ මඟ ගමන් කරන මේ සියලු දෙනාට දේව ආශීර්වාදය වැඩියෙන් ලැබෙනවා. අපිත් ජේසුස් වහන්සේගේ සුවිශේෂී ගුණාංග අයිති කර ගනිමු. ඒ සඳහා යාච්ඤා කරමු.



පැවරුම

1. 41 පිටුවේ ඇති පින්තූරය බලා ජේසුස් වහන්සේ රෝගීන්ට සුවය දුන් අවස්ථා තුනක් නම් කරන්න.
2. ඔබ කෙනෙකුට කළ උදවුවක් චිත්‍රයට නගන්න.
3. මෙම කුඩය අභ්‍යාස පොතේ ඇඳ අසරණ අයට බෙදා දියහැකි දේවල්වලින් මෙම කුඩය පුරවන්න.



4. රෝහල්වල සිටින රෝගීන්ට සාත්තු කළ හැකි අවස්ථා දෙකක් ලියන්න.

# 18 දිළිඳුන් අතර දිළින්දෙක් වූ අපේ පියතුමා

මම නමින් මයිකල් රුද්‍රිගු. මම ඉපදුණේ 1927 ජුනි 30 වන දා. හැදුණේ වැඩුණේ දෙහිවල ප්‍රදේශයේ. මම දෙහිවල සාන්ත මරියා විදුහලෙත්, පසුව කොළඹ සාන්ත පීතර විදුහලෙත්, ඉතා හොඳින් ඉගෙන ගත්තා. මට ආශාවක් ඇති වුණා පියතුමෙක් වෙලා ජේසුස් වහන්සේ වගේ වෙන්න. ඒ වෙනුවෙන් නිතර ම යාච්ඤා කළා.



පසු ව මම නිමල මරිය නිකායට ඇතුළු වුණා. තවත් හොඳට ඉගෙන ගන්න මම රෝමයේ විශ්ව විද්‍යාලයටත් , පැරිස් විශ්ව විද්‍යාලයටත් ගියා. 1954 ජුලි මස 7 වන දින මා පියතුමකු වුණා.

බොහෝ කරදර විඳිමින්, ගොවිතැන් කර ජීවත් වන අසරණ මිනිසුන් සිටිය බුත්තල ගමට සේවය කරන්න මම කැමති වුණා. මම ඒ ප්‍රදේශයේ මැටිවලින් පුංචි ගෙදරක් හදා ගත්තා. ඒ ගෙදර නම තමයි "සුබසෙත් ගෙදර" මම හැමදාම දිව්‍ය පූජාව සිදු කළේ මේ ස්ථානයේදී ම යි.

මේ මිනිස්සු විඳින දුක් වේදනා දුටු මට අප වෙනුවෙන් දුක් විඳි ජේසුස් වහන්සේ මතක් වුණා. ඒ නිසා මමත් ඒ අය සමග වැඩ කළා. පොළොව කෙටුවා. ගොවිතැන් කළා. ඔසු පැළ රාශියක් වගා කළා.

පුංචි කාලේ ඉඳල ම අපි පුරුදු වෙන්න ඕනෑ දුක්විඳින, අසරණ, දිළිඳු අය තුළින් ජේසුස් වහන්සේ දකින්න. සොබා දහමට, ගහ කොළවලට සතා සිවුපාවට, සමනලුන්ට, කුරුල්ලන්ට ආදරය කරන්න. එවිටයි දෙවි පියාණන් වහන්සේ අප දෙස බලා සතුටු වෙන්නේ.

මම,<br>
ජේසුස් වහන්සේ තුළ,<br>
මයිකල් රුද්‍රිගු පියතුමා.

සුපුරුදු ලෙස පියතුමා එදත් උතුම් වූ දිව්‍ය පූජාව පැවැත්වූවා. ඒ 1987 නොවැම්බර් 10 වනදා ඒ මොහොතේ දී පියතුමාගේ යහපත් සේවයට විරුද්ධ වූ අයෙකුගේ වෙඩි පහරකින් පියතුමාට ජීවිතය අහිමි වුණා. පියතුමාට මේ සිද්ධියට මුහුණ දීමට සිදු වුයේ එඩිතරව යහපත කළ නිසා. ඒත් යහපත් දේ වෙනුවෙන් අපේ උත්සාහය අත් හරින්න හොඳ නැහැ.

**ආදර දෙවි පියාණනි, මයිකල් රුද්‍රිගු පියතුමා වගේ දිළිඳු, අසරණ අය තුළින් ජේසුස් වහන්සේ ව දකින්න අපටත් උදව් වුව මැනව. ආමෙන්.**



## පැවරුම

1. නිවැරදි පිළිතුර සහිත කොටුව කහ පාටින් පාට කරන්න.

   i. මයිකල් රොද්‍රිගු පියතුමාගේ උපන් දිනය

| | |
|---|---|
| 1927. 06. 30 | 1937. 06. 03 |

   ii. මෙතුමා අධ්‍යාපන ලැබූ පාසල්

| | |
|---|---|
| සාන්ත මරියා විදුහල<br>සාන්ත පීතර විදුහල | සාන්ත ජෝශප් විදුහල<br>සාන්ත අන්තෝනි විදුහල |

   iii. මෙතුමා සේවය කළ ප්‍රදේශය

| | |
|---|---|
| බුත්තල | වත්තල |

2. ගුරු මයිකල් රොද්‍රිගු පියතුමා කළ විශේෂ සේවා දෙකක් ලියන්න.

# 19 අදිරියාන් ජෝශප් පියතුමා



- මෙතුමා 1924. 01. 09 දින උපත ලැබුවේ ය.
- නිමල මරිය නිකායේ දෙව්සත්හළට ඇතුළු වී පූජක පුහුණුව ලැබුවේ ය.
  1951. 08. 06 වන දින පූජාත්වරය ලැබීය.
- මෙතුමා දෙමළ හා සිංහල ගීතිකා රාශියක් ලියා ඇත.
- සිංහල භාෂාවෙන් ලියූ නත්තල් ගීතිකා පොතකි "හදේ වීණා." මෙහි මුල් පිටපත දමිළ භාෂාවෙන් ලියා ඇත.
- මෙතුමා කිතුනු සංගීතයට මහඟු සේවාවක් කර ඇත.
- ශුද්ධ බයිබලයේ ගීතාවලිය ඇසුරෙන් ගීතිකා රාශියක් නිර්මාණය කර ඇත.
- දමිළ සංගීතයට අනුව පිළිතුරු ගීය සඳහා ප්‍රථමයෙන් සංගීතය නිර්මාණය කරන ලද්දේ මෙතුමා විසිනි.
- මෙතුමා නිර්මාණය කළ ගීතිකා දේව මෙහෙයන්වල දී වැඩි වශයෙන් භාවිත කරන බව පොත පතේ සඳහන් වේ.

පියතුමාගේ ගම

| | | | |
|---|---|---|---|
| යා | ප | න | ය |

පියතුමාගේ භාෂාමය හැකියා

| | | | |
|---|---|---|---|
| | ඉ | | |
| සි | ං | හ | ල |
| | ශ්‍රී | | ති |
| | සි | | න් |

| | | |
|---|---|---|
| දෙ | ම | ළ |

පියතුමාගේ විවිධ හැකියා

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| ස | ං | ගී | ත | ඥ | යෙ | ක් |
| | | ත | | | | |
| | | ර | | | | |
| | | ච | | | | |
| | | ක | | | | |
| | | යෙ | | | | |
| | | ක් | | | | |



**පැවරුම්**

1. අදිරියාන් ජෝශප් පියතුමාගේ සුවිශේෂ දක්ෂතා දෙකක් දක්වන්න.
2. අදිරියාන් ජෝශප් පියතුමා අයත් නිකාය කුමක් ද?
3. එතුමා විසින් රචිත සිංහල ගීතිකා පොතේ නම කුමක් ද?

# 20 ආදි පියවරු



පොතේ ගුරු : බොහෝ කාලයකට පෙර ආබ්‍රහම් නම් මිනිසෙක් විය. ඔහු දෙවියන් වහන්සේට කීකරු ව විසුවේ ය. දිනක් දෙවියන් වහන්සේ ඔහුට මෙසේ ඇමතූ සේක.

දෙවියන් වහන්සේ: නුඹේ මව්බිම ද නුඹේ නෑදෑයින් ද නුඹේ පියාගේ ගෘහය ද අතහැර දමා මා පෙන්වන දේශයට යන්න. මම නුඹ මඟින් විශාල ජාතියක් ගොඩනගන්නෙමි. මම නුඹට ආශීර්වාද කරන්නෙමි.

ආබ්‍රහම් : එසේය පියාණෙනි, ඔබ වහන්සේ පෙන්වන දේශයට යාමට මා සූදානම්.
(ඔහු පිටත්ව යයි)

පොතේ ගුරු : කලකට පසු දෙවි පියාණන් වහන්සේ ආබ්‍රහම්ට දර්ශනය වී මෙසේ ද ප්‍රකාශ කළ සේක.

දෙවියන් වහන්සේ: ආබ්‍රහම් අහස දෙස බලා හැකිනම් ඔය තාරකා ගණන් කරන්න. නුඹේ දරු පරපුර ද එසේ ම වන්නේ ය.

ආබ්‍රහම් : (සතුටින්) ඔබ වහන්සේගේ වචනය මම පිළිගනිමි. මගේ මහලු වයසේ දී ඔබ වහන්සේ මට දුන් පුත්‍රයාට ඊසාක් යන නම තබමි.

පොතේ ගුරු : නැවතත් දෙවියන් වහන්සේ ආබ්‍රහම් පරීක්ෂා කරමින් ඊසාක් පූජා කරන ලෙස ප්‍රකාශ කළ සේක. එවිට ඔහු උදෑසනින් ම අවදි වී තම එකම පුත්‍රයා පූජා කරනු පිණිස රැගෙන, මොරියා දේශයට ගියේ ය.

ඊසාක් : සාන්ත වූ මේ පරිසරයේ සිසිල දැනේ කඳුකරයේ //
දර සහ ගින්දර දෙකම තිබේ - බිලි සතෙකු අප නැතේ
පියතුමනි, බිලි සතෙක් කෝ? (ගයමින් යයි)

ආබ්‍රහම් : පුතණුවනේ, පුතණුවනේ - අපට අවැසි බිලි සතෙකු දෙවිඳුන් දෙනු ඇතේ. (ගයමින් පිළිතුරු දෙයි)

පොතේ ගුරු : තම එකම දරුවා පූජා කරන්නට තරම් සැරසුණු ආබ්‍රහම්ගේ විශ්වාසය දුටු දෙවියන් වහන්සේ දේව දූතයෙකු මගින් එය නතර කළ සේක. පසු කළෙක ඊසාක්ට ඒසව් හා ජාකොබ් නම් පුතුන් දෙදෙනෙක් විය. දිනක් ජාකොබ් හට දෙවියන් වහන්සේ සිහිනෙන් දර්ශනය වූ සේක.

ජාකොබ් : අරුම පුදුම සිහිනයක්නේ මම දුටුවේ. පොළොවේ තබන ලද ඉනි මගකි. එහි මුදුන අහස දක්වා විය. දේව දූතයෝ එහි නගිමින් බසිමින් සිටියෝ ය. දෙවියන් වහන්සේ ආබ්‍රහම්ට දුන් පොරොන්දු නැවතත් මට මතක් කළ සේක.

පොතේ ගුරු : මෙසේ දෙවියන් වහන්සේ ආදි පියවරුන් මගින් ජනතාවක් තෝරා පත් කරගෙන ඔවුන්ට දුන් පොරොන්දු ඉටු කළ සේක.

ආදර දෙවි පියාණෙනි, අපේ ආදි පිය ආබ්‍රහම්ට දුන් ප්‍රබල විශ්වාසය නමැති දීමනාව නිරතුරු ව ම අපට ද ලබා දුන මැනව.
අමෙන්.



පැවරුම

1. ආබ්‍රහම් තුමාගේ ජීවිතයේ කැපී පෙනෙන ගුණාංග පහක් ලියන්න.
2. ඔබ රඟ දැක්වූ නාට්‍යයේ සිත් ගත් චරිතයක් නම් කර ඒ ගැන වැකි හතරක් ලියන්න.
3. ශුද්ධ වූ බයිබලයේ උත්පත්ති පොතේ 28:10-17 දක්වා කොටස ගුරුතුමිය සමග කියවා ජාකොබ් තුමා දුටු සිහිනය චිත්‍රයට නගන්න.

# 21 ජෝසෙප්



දුවල පුතාල දන්නව ද ජෝසෙප් කියන්නේ කවුද කියලා? අපේ ආදි පියෙකු වන ජාකොබ් තුමාගේ පුතුන් දොළොස් දෙනාගෙන් කෙනෙක්. කුඩා කල සිට ම සිහින තෝරා දීමේ විශේෂ හැකියාවක් ජෝසෙප්ට තිබුණා. ඒ නිසා ඔහුගේ සහෝදරයෝ "ස්වප්නකාරයා" කියා ඔහු හැඳින්වූවා. තම පියා ජාකොබ් තම බාල මල්ලීට වැඩියෙන් ආදරේ කළ බව දුටු සහෝදරයෝ ජෝසෙප්ට වෛර කළා.

ජෝසෙප්ගේ සහෝදරයෝ බැටළුවෝ බලා ගන්න අයයි. දිනක් ජෝසෙප් තම පියාගේ ඉල්ලීමට සහෝදරයෝ බැටළුවෝ බලා ගන්නා ස්ථානයට ගියා. දුර දී ජෝසෙප් එන බව දුටු සහෝදරයෝ ඔහුව මරා දමන්න හිතුවා. පසුව මරා නොදමා වෙළෙඳුන්ට විකුණුවා. ඒ අය ඔහුව මිසරයට ගෙන ගියා.

මිසරයේ දී රජ වාසලේ සෙන්පති ඇමති වන පොතිපර්, ජෝසෙප්ව මිලයට ගත්තා. ජෝසෙප් ඉතා හොඳින් එහි වැඩ කළා. ඒ නිසා පොතිපර් තම ගෙදර සියලු කටයුතු ජෝසෙප්ට භාර දුන්නා. පසුව නොයෙක් බොරු චෝදනාවලට ජෝසෙප් හිර ගෙදරට නියම වුණා.

හිර ගෙදර සිටින විට ද ජෝසෙප් දෙවියන් වහන්සේට යාච්ඤා කළා. සමහර අවස්ථාවල හිර කරුවන් දුටු සිහින පවා ජෝසෙප් හොඳින් තේරුම් කර දුන්නා. ඒ සිහින ඒ විදිහට ම සැබෑ වුණා.

කලක් ගත වුණා. රටේ රජතුමා ද මහ අමුතු හීනයක් දුටුවා. රජතුමාට මෙය තේරුම් ගැනීමට බැරි වුණා. එහි තේරුම පැහැදිලිකර දීමට කිසිවකු සමත් වූයේ නැහැ. ජොසෙප් ගැන දැනගත් රජතුමා ඔහු ගෙන්වා ගත්තා. රජතුමා දුටු හීනය ගැන ඔහුට කිව්වා. එවිට ජෝසෙප්, මම නොවේ මේ හීන තෝරන්නේ, මා තුළින් මගේ දෙවියන් වහන්සේ එය කරන්නේ කියා රජතුමාට කිව්වා. ජෝසෙප්ගේ විශ්වාසය ගැන රජතුමා සතුටු වුණා.

රජතුමා දුටු හීනයට අනුව මුළු දේශයට ම සරුසාර අවුරුදු හතක් මුලින් ඇති වන බවත්, ඉන් පසුව අවුරුදු හතක් සාගතයක් ඇති වන බවත් ජොසෙප් කිව්වා.

මෙයින් රට බේරා ගැනීමට හැකි වන්නේ ජෝසෙප් වැනි බුද්ධිමත් අයකුට බව රජතුමාට වැටහුණා. රජතුමා මුළු දේශයේ අධිපති ලෙස ජෝසෙප් පත් කළා. ජොසෙප් යහපත් බව රජතුමා තේරුම් ගත්තා.

සරුසාර අවුරුදු හතේ දී ජෝසෙප් රට වැසියන් සමග එකතු වී උනන්දුවෙන් මහන්සියෙන් වගා කළා. අවුරුදු ගණනාවකට ධාන්‍ය රැස් කළා. සාගතයට මුහුණ දීමට රට වැසියන් සූදානම් කළා.

සරුසාර කාලය ගෙවී සාගතය පටන් ගත්තා. මිසර රටට පමණක් කෑම ඕනෑ තරම් තිබුණා. නමුත් ජෝසෙප්ගේ සහෝදරයෝ සිටි කානාන් දේශයට කෑම නැති වුණා. මේ අයටත් ජෝසෙප් ළඟට එන්න වුණා. ධාන්‍ය මිලයට ගන්න පැමිණි සහෝදරයෝ ජෝසෙප් ව හඳුනා ගත්තේ නැහැ. නමුත් ජෝසෙප් තම සහෝදරයන් හඳුනා ගත්තා. පසුව සහෝදරයෝ ජෝසෙප්ව හඳුනා ගත්තා. ඔවුන් ජෝසෙප්ට කළ හිරිහැර ගැන කණගාටු වුණා. ජොසෙප්ගෙන් සමාව ඉල්ලුවා. ජෝසෙප් සමාව දුන්නා. පසුව සියලු දෙනා සමගියෙන් ජීවත් වුණා. ජොසෙප් කළ හැම කාර්යයක් ම සාර්ථක වුණේ දෙවියන් වහන්සේ ජෝසෙප්ට ආදරය කළ නිසයි. ජෝසෙප් දෙවියන් වහන්සේට කීකරු වූ නිසයි.

**ආදර දෙවි පියාණන් වහන්ස, ජෝසෙප් වගේ සැමවිට යහපත පමණක් කිරීමට අපටත් උදව් වුව මැනව. අපට හිරිහැර කරන අයට සමාව දීමටත් ආදරය කිරීමටත් අපට පිහිට වුව මැනව. ආමෙන්.**



පැවරුම්

1. ජොසෙප්ගේ ජීවිතයේ කැපී පෙණුන ගුණාංග දෙකක් නම් කරන්න.

2. ප්‍රහේළිකාව පුරවමු




හරහට

1. ජාකොබ් වැඩියෙන් ආදරය කළ පුතා
2. ජාකොබ්ගේ පුතුන් ගණන
3. ජෝසෙප් සහෝදරයන්ට ...................... දුන්නා.

පහළට

4. ජෝසෙප් ව ගෙන ගියේ මේ ප්‍රදේශයටයි.
5. ජෝසෙප් නිතර ම මේවා විසඳුවා.
6. ජෝසෙප්ගේ සහෝදරයෝ ඔහුට .................... කළා.

# 22 ශුද්ධ වූ තෙරේසා මව්තුමිය

අපි ජේසුස් වහන්සේ වගේ ආදරය කරමු.
අපි ඔවුන් වහන්සේ වගේ ආදරය දෙමු.
ස්පර්ශ කරමු. දුප්පතුන්ගේත් දුප්පතුන්
මධ්‍යයේ දවස ගෙවමින් 'සමිඳුන් මිහිපිටයි'
යන සලකුණ සනිටුහන් කරමු.
ජේසුගේ ආදරය හා අනුකම්පාව ඔවුන් අතර බෙද දෙමු.



මා ඉපදුණේ 1910 අගෝස්තු 26 දා. මගේ දෙමවුපියෝ මට නම් තැබුවේ ඇග්නස් ගොන්ක්ස්හා යනුවෙනි. මම පවුලේ බාලයා. මම අනිත් අයට උදවු කරන්න හරි ම කැමතියි.

අවුරුදු 18 දී මම අම්මා ගෙනුත් මගේ හිතවත් අයගෙනුත් සමුගෙන ලොරෙටෝ නිකායේ කන්‍යාරාමයට ඇතුළු වී ධර්මදූත මෙහෙවරට සම්බන්ධ වුණා.




1937 මැයි 14 දින මම පැවිදි දිවියට ඇතුළු වුණා. තෙරේසා සොයුරිය නමින් කල්කටාවේ උසස් ප්‍රසිද්ධ පාසලක ඉගැන්නුවා. පසුව විදුහල්පතිනිය ලෙස ද සේවය කළා.



1948 දී මම දයාවේ ධර්ම දූතිකාවන්ගේ නිකාය ඇරඹුවා. චාම් කපු සාරියකින් සැරසී දිළිඳු පැල්පත්වල ජීවත් වූ දුප්පත් අය වෙනුවෙන් දේව සේවය පටන් ගත්තා. දුප්පත් දරුවන්ට මම හරිම ආදරෙයි. ඒ අය මට අම්මා කියලයි කතා කළේ.



මම 1967 දෙසැම්බර් මස 8 වෙනිදා දයාවේ සේවාව සඳහා ශ්‍රී ලංකාවට පැමිණියා. අනාථ, අසරණ, දරුවන්, අවශ්‍යතාවයන් ඇති දරුවන්, වීදි දරුවන්ගේ අධ්‍යාපන කටයුතු සඳහා නිවාස ගණනාවක් ඇති කළා. ශාන්ති නිවස, ප්‍රේම් නිවස, දයාවේ නිවස, කරුණා නිවස එයින් සමහරක්. පවුලේ දිව්‍ය සත්ප්‍රසාද වන්දනාව, යැදුම, ජපමාලය කීම කිසිම දිනක මම අමතක කළේ නැහැ.

1997.09.05 වෙනි දින තෙරේසා මාතාව මෙලොවින් සමුගත්තා. 2003 ඔක්තෝම්බර් 19 දා කල්කටාවේ දී මෙතුමිය භාග්‍යවන්තිය ලෙස ප්‍රකාශයට පත් කෙරුණා. 2016 සැප්තැම්බර් 04 වන දින පළමුවන ෆ්‍රැන්සිස් ශුද්ධෝත්තම පියතුමන් විසින් එතුමිය සාන්තුවරයට ඔසවන ලදි.

"තෙරේසා මව්තුමිය වගේ අපිත් අසරණ අයට දයාව දක්වමු."



පැවරුම

1. තෙරේසා මවුතුමියගේ ජීවන තොරතුරු සහ සේවය පිළිබඳ පොත් පිංචක් දෙමවුපියන්ගේ උදවු ඇතිව නිර්මාණය කරන්න.

2. තෙරේසා මවුතුමියගෙන් අපට ගතහැකි ආදර්ශ දෙකක් ලියා දක්වන්න.

3. ශුද්ධ වූ තෙරේසා මවුතුමිය විසින් අරඹන ලද නිකායන් මගින් කරන සේවා තුනක් ලියන්න.

# 23

# ශ්‍රී ලංකාවේ අපෝස්තුළුවර ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා



මේ පින්තූරයේ ඉන්නේ කවුද කියල දුවලා, පුතාලා දන්නවා ද? මේ තමයි ජුසේ වාස් පියතුමා. එතුමා ගැන තමයි අද මම කියා දෙන්න යන්නේ. මෙතුමා ගැන තොරතුරු සාකච්ඡා කරන්නට ප්‍රශ්න හා පිළිතුරු සුදානම් කර තිබේනවා. අපි දැන් බලමු ඒ ප්‍රශ්න හා පිළිතුරු මොනවද කියලා.

| ප්‍රශ්න | පිළිතුරු |
|---|---|
| 1. ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා ඉපදුණේ කොහේ ද? | 1. ඉන්දියාවේ ගෝව ප්‍රදේශයේ |
| 2. එතුමාගේ උපන් දිනය කවදා ද? | 2. 1651 අප්‍රේල් 21 වන දා |
| 3. ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමාගේ මවුපියන් කවුද? | 3. පියා - ක්‍රිස්ටෝපර් වාස්<br>මව - මරිය මිරැන්ඩා |
| 4. කුඩා කල සිට ම එතුමා තුළ තිබුණ විශේෂත්වය කුමක් ද? | 4. දෙවිපියා කෙරෙහි ගැඹුරු විශ්වාසය හා භක්තියයි. |
| 5. එතුමා පූජකවරය ලැබුවේ කවදා ද? | 5. 1676 වර්ෂයේ දී |
| 6. එතුමා පදවි පූජකවරය ලබාගත් පසු තෝරා ගත් නිකාය කුමක් ද? | 6. ඔරතෝරියානු නිකාය |
| 7. මෙතුමා ලංකාවට ආවේ කුමන අවුරුද්දේ ද? | 7. 1687 වර්ෂයේ දී |
| 8. මෙතුමා ලංකාවට ආවේ කවුරුන් වගේ වෙස්වළා ගෙන ද? | 8. කුලීකරුවකු ලෙස වෙස් වළාගෙන |
| 9. මේ මුනිතුමා වෙස් වළාගෙන ආවේ ඇයි? | 9. ඒ කාලයේ ලංකාවේ කතෝලික ආගම අදහන අයට ලන්දේසීන් කරදර කළ නිසා |
| 10. ජුසේ වාස් මුනිතුමා කිතු දහම ප්‍රචාරය කළේ කොහොම ද? | 10. බොහෝ කරදරවලට මුහුණ දෙමින් හා විශ්වාසයෙන් |

11. එතුමා කළ ප්‍රාතිහාර්යයන් මොනවා ද?

12. ජුසේ වාස් මුනිතුමා ලංකාවේ සැම ප්‍රදේශයක ම ගමන් කළේ කෙසේ ද?

13. එතුමා මෙලොව ජීවත් වුණේ කෙසේ ද?

14. එතුමා ස්වර්ගස්ථ වුණේ කවදා ද?

15. ජුසේ වාස් මුනිතුමා මිය යන විට වයස කීය ද?

11. ★ දැඩි නියඟයක දී මහනුවර ප්‍රදේශයට වැස්ස ලබා දීම
★ තනි අලියකු මෙල්ල කිරීම
★ දූදුරු ඔය මතින් පයින් යාම

12. පාවහන් හෝ නොමැති ව පයින්

13. ඉතා ම සරල ව, චාම් ලෙස හා ආදර්ශවත් ව

14. ක්‍රි.ව. 1711 ජනවාරි 16 වන දා

15. අවු. 60කි.

16. එතුමා ලංකාවේ සේවය කළ කාලය කොපමණ ද?

17. ජුසේ වාස් මුනිතුමාට කැප කළ දේවස්ථාන පිහිටි ප්‍රදේශ මොනවා ද?

18. ජුසේ වාස් මුනිතුමා ඉතා ඕනෑකමින් උදව් කළේ කුමන රෝගීන්ට ද?

19. එතුමා භාග්‍යවරයට එසවූයේ කවදා ද? කවුරුන් විසින් ද?

20. ජුසේ වාස් මුනිතුමා ශුද්ධවරයට එසවූයේ කවුරුන් විසින් ද? ඒ කවදා ද?

16. අවු. 24කි.

17. මහනුවර, මොරටුව, මාකොළ ආදී ප්‍රදේශ වේ.

18. වසූරිය වසංගතය බෝවූ රෝගීන්ට.

19. 1995 ජනවාරි 21 වන දා
සාන්ත දෙවන ජුවාම් පාවුළු සුදතුම් පියා

20. පළමු වන ෆ්‍රැන්සිස් සුදතුම් පියා විසින්
2015 ජනවාරි 14 වන දා

ඊළඟ පාඩමේ දී අද ඉගෙනගත් ප්‍රශ්න හා පිළිතුරුවලින් "දැනුම මිනුම" තරගයක් පවත්වනවා. ඒ සඳහා හොඳින් සූදානම් වෙන්න ඕනෑ.

**මාගේ රැකවල් දේව දූතයාණෙනි, ඔබ බාරේ ඉන්නා වූ මට අද දින ඔබගේ පරම දයාබරකමින් ඥාන එළිය දී මා ආරක්ෂා කර නඩත්තු කර ආණ්ඩුකරනවා සොඳේ - ආමෙන්.**



පැවරුම්

1. ජුසේ වාස් මුනිතුමාගේ ප්‍රාතිහාර්යයන් පිළිබඳ ගුරුතුමියගෙන් අසා දැන ගන්න.
2. ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා ලංකාවේ වැඩිපුර සේවය කළ ප්‍රදේශ තුනක් සොයා ලියන්න.
3. ජුසේ වාස් මුනිතුමා මහනුවර දී වැස්ස ලබා දුන් ආකාරය චිත්‍රයට නගන්න.
4. ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමාගේ ජීවිත තොරතුරු ඇතුළත් පොත් පිංචක් සාදන්න.

# 24 ශුද්ධ වූ තාර්සිසියුස් තුමා



ශුද්ධ වූ තාර්සිසියුස් තුමා රෝමයේ ජීවත් වූ කිතුනු දරුවෙකි. මෙතුමාගේ දෙමවුපියන් ජීවතුන් අතර නොවී ය.

ඒ කාලයේ හිටපු පාලකයා කිතුනු ආගම මුළුමනින් ම විනාශ කර දැමීමට සිතුවා. මේ නිසා කිතුනුවන් බිංගෙයක් තුළ රහසින් හමුවුණා. එක දවසක් තාර්සිසියුස් මෙම බිංගෙයට ගියා. එහි දී එතැන සිටි දෙවන සික්ස්ටස් සුදතුම් පියතුමා සිරගෙදර සිටින අයට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමට සලස්වන්නේ කෙසේ ද කියා කිතුනුවන්ගෙන් ඇසුවා. එවිට තාර්සිසියුස් තුමා ඉදිරියට පැමිණ හිරගෙදරට තමා යවන ලෙස ඉල්ලා සිටියා. මුල දී සුදතුම් පියතුමා අකමැති වුණා. පසුව කුඩා ළමයෙකු කවුරුත් ගණන් ගන්නේ නැති

වෙයි කියා සුදතුම් පියතුමා ඔහු යැවීමට එකඟ වුණා.

පසුවදා උදේ දිව්‍ය පූජාවෙන් පසු සුදතුම් පියතුමා තාර්සිසියස්ට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දෙමින් "දැන් යන්න පුතා. ඔබ උසුලාගෙන යන ස්වාමීන් වහන්සේ ඔබ සමග වේවා!" යයි පැවසුවා. පසුව තාර්සිසියුස් දිව්‍ය සත්ප්‍රසාද සහිත කුඩා පසුම්බිය කරවටේ දමාගෙන ඔහුගේ ඇඳුමට යට කර ගත්තා. "මගේ හදවත මත මම ජේසුස් වහන්සේ උසුලාගෙන යන්නෙමි" යි සිතමින් මෙතුමා බිංගෙයින් පිටත් වුණා.



කිසිවෙකුගේ ඇස නොගැටී ටික දුරක් ගියා. පාසලෙන් පැනගොස් ක්‍රීඩා කරමින් සිටි පිරිමි ළමුන් කණ්ඩායමක් තාර්සිසියුස් තුමා දකලා සෙල්ලම් කරන්නට අඬ ගැසුවා. වැදගත් වැඩක් කරන්නට ඇති නිසා ඒමට නොහැකි බව පැවසූ විට ඔවුන් ඔහුට බල කළා. ඒ අයට මෙතුමා මොකක් දෝ සඟවාගෙන ඉන්න බවට සැක හිතුණා. එය පෙන්වන ලෙස තදින් ඔවුන් කියා සිටියත් එය ප්‍රතික්ෂේප කළ නිසා එතුමාට තදින් පහර දී පලා ගියා. එතුමා නැගිටින්න උත්සාහ කළත් බැරිවුණා.

"ජේසුනී මම මරණයට පත්වන තුරු ඔබ වහන්සේ ව ආරක්ෂා කළෙමි. මේ ළමයින්ට සමාව දෙන්න." කියා පහත් හඬින් පැවසුවා. මරණාසන්නව සිටි මෙතුමා දුටු කිතුනු හේවායා ඔහු බිංගෙයට ඔසවාගෙන ගොස් සික්ස්ටස් පාප්තුමාට භාර දුන්නා.

"ඔබේ ආදරයෙන් පිරි ත්‍යාගවන්තකම නිසා ජේසුස් වහන්සේ සුරක්ෂිත ව සිටින සේක." යනුවෙන් සුදතුම් පියතුමා පැවසුවා. සත්ප්‍රසාදයේ වැඩ සිටින ජේසුස් වහන්සේ තම හදවතට තව තවත් තද කර ගනිමින් ඔහු ස්වර්ගස්ත වුණා. ඔහුගේ අත්දෙක පපුවෙන් ඉවත්වූයේ එවිටයි.

මේ නිසා ශුද්ධ වූ තාර්සිසියුස් තුමා පළමු වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබන ළමුන්ගේ, නාම සාන්තු වරයා වශයෙන් හඳුන්වනු ලබනවා.



පැවරුම්

1. පහත සඳහන් "අදහමි දිව්‍ය සත්ප්‍රසාදෙනි" ගීතිකාවේ දී ඇති කොටස ගෞරවයෙන් යුක්තව ගායනා කරන්න.

    අදහමි දිව්‍ය සත්ප්‍රසාදෙනි
    බැතියෙන් සමරමි. ස්වර්ග රන්විමානෙනි
    ජීවත් කරමි මගේ ජීවිතෙන්
    ජේසු ක්‍රිස්තු සමිඳු දිව්‍ය සත්ප්‍රසාදෙනි

2. ශුද්ධ වූ තාර්සිසියුස් තුමා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ආරක්ෂා කළේ කෙසේද?
3. මේ සතිය තුළ ඔබ කළ හොඳ වැඩ ලියා ආත්මික මල් පොකුරක් සාදන්න. නිර්මාණය කරන ලද එම ආත්මික මල් පොකුර රැගෙන ගුරුතුමිය සමග දේවස්ථානයට ගොස් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ඉදිරියේ යාච්ඤාවක් කියා ඔප්පු කරන්න.

( 39, 43, 46, 55 පිටුවල රූප සටහන් හා 56 පිටුවේ හි පළමු හා අවසාන රූප සටහන් අන්තර්ජාලය ඇසුරෙනි )